**Department of Examinations, Sri Lanka**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Adv. Level) Examination, 2023 (2024)

**බෞද්ධ ශිෂ්ටාචාරය II**
**பௌத்த நாகரிகம் II**
**Buddhist Civilization II**

**45 S II**

**පැය තුනයි**
*மூன்று மணித்தியாலம்*
*Three hours*

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**උපදෙස්:**

* **I කොටසින්** ප්‍රශ්න **දෙකක්** ද, **II කොටසින්** ප්‍රශ්න **තුනක්** ද තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
* සෑම ප්‍රශ්නයකට ම ලකුණු **20** බැගින් හිමි වේ.

## I කොටස

1. (i) බ්‍රාහ්මණ ඉගැන්වීම්වල දැක්වෙන චතුර් වර්ණය නම් කරන්න. (ලකුණු 02යි.)
   (ii) ගෘහස්ථ ආශ්‍රමයට අයත් කාර්යන් **තුනක්** ගෙනහැර දක්වන්න. (ලකුණු 03යි.)
   (iii) බුදුසමයෙන් කාන්තාවට ආගමික නිදහස ලැබුණු බව සාධක **හතරක්** මගින් තහවුරු කරන්න. (ලකුණු 04යි.)
   (iv) නිගණ්ඨනාතපුත්ත තුමන් ඉදිරිපත් කළ කර්ම සංකල්පය කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 05යි.)
   (v) පකුධ කච්චායනගේ ඉගැන්වීම මගින් සමාජ සදාචාරයට සිදුවන **අහිතකර** බලපෑම පැහැදිලි කරන්න. (ලකුණු 06යි.)

2. (i) බුද්ධකාලීන භාරතීය සමාජයේ කෘෂිකාර්මික ආර්ථික ක්‍රමයක් පැවති බවට සාධක **හතරක්** දක්වන්න. (ලකුණු 02යි.)
   (ii) බුද්ධකාලීන භාරතයේ පැවති සමූහාණ්ඩු පාලන ක්‍රමයේ අනන්‍යතා ලක්ෂණ **තුනක්** ගෙනහැර දක්වන්න. (ලකුණු 03යි.)
   (iii) බුදුරජාණන් වහන්සේ ධර්ම සන්නිවේදනයෙහිලා විවිධ ක්‍රම භාවිත කළ බව සාධක **හතරක්** ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 04යි.)
   (iv) බුදුරජාණන් වහන්සේ සතුව පැවති පුරිසදම්මසාරථී බුදුගුණය අවස්ථා **තුනක්** ඇසුරින් විස්තර කරන්න. (ලකුණු 05යි.)
   (v) ධර්ම සේනාපති සැරියුත් මහරහතන් වහන්සේගේ චරිත ලක්ෂණ **හතරක්** ඇගයීමට ලක් කරන්න. (ලකුණු 06යි.)

3. (i) "අක්කෝධේන ජිනේ කෝධං" යන ධම්ම පද ගාථාව නිවැරදිව සම්පූර්ණ කරන්න. (ලකුණු 02යි.)
   (ii) ඉහත 3 (i) හි සඳහන් ගාථාවේ අර්ථය ලියා දක්වන්න. (ලකුණු 03යි.)
   (iii) සිගාලෝවාද සූත්‍රයට අනුව සේව්‍ය-සේවක යුතුකම් හා වගකීම් **දහය** නම් කරන්න. (ලකුණු 04යි.)
   (iv) සමාජ ප්‍රභවය පිළිබඳ බෞද්ධ විග්‍රහය අග්ගඤ්ඤ සූත්‍රානුසාරයෙන් ගෙනහැර දක්වන්න. (ලකුණු 05යි.)
   (v) බුද්ධකාලීන ධර්මදූත සේවාවෙහි සාර්ථකත්වයට භික්ෂුවගෙන් ඉටු වූ දායකත්වය නිදසුන් දක්වමින් සාකච්ඡා කරන්න. (ලකුණු 06යි.)

[ දෙවැනි පිටුව බලන්න.

## II කොටස

**4.** (i) ජනහිතකාමී පාලන තන්ත්‍රයක් ගොඩනැංවීම උදෙසා දස සක්විතිවත්වල අදාළත්වය සාකච්ඡා කරන්න. (ලකුණු 1

(ii) ''උපයන ධනය තම අභිවෘද්ධියට පමණක් යොදා ගැනීම බුදුසමය අනුමත නො කරයි.'' බෞද්ධ පරිභෝජන චින්තාව ඇසුරින් විග්‍රහ කරන්න. (ලකුණු 1

**5.** (i) නූතන සමාජයෙහි පවත්නා අධාර්මික වාණිජ ක්‍රමෝපායන් පාලනය සඳහා අදාළ කර ගතහැකි බෞද්ධ ඉගැන්වීම් විස්තර කරන්න. (ලකුණු 10

(ii) නූතන පවුල් සංස්ථාවේ ගැටලු නිරාකරණය කරගැනීමට මංගල සූත්‍රාගත ඉගැන්වීම්වලින් ලැබෙන පිටිවහල පෙන්වා දෙන්න. (ලකුණු 10

**6.** (i) ප්‍රථම ධර්ම සංගායනාව පැවැත්වීමට බලපෑ හේතු යුක්ති ගෙනහැර දක්වා, එහි ප්‍රතිඵලයක් ලෙස ධර්ම විනය සංරක්ෂණය කළ ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 10යි

(ii) බුදුසසුනේ සංවර්ධනය උදෙසා පැරණි ලක්දිව පාලකයන්ගෙන් ඉටු වූ මෙහෙය අනුරාධපුර යුගයේ රජවරුන් දෙදෙනෙකුගේ ශාසනික සේවා ඇසුරින් අගයන්න. (ලකුණු 10යි.

**7.** (i) සාම්ප්‍රදායික ථායි සංස්කෘතියේ පෝෂණයට බුදුසමයෙන් ලැබුණු ආලෝකය නිදසුන් මගින් ප්‍රකට කරන්න. (ලකුණු 10යි.)

(ii) පුද්ගලයාගේ උපතේ සිට මරණය දක්වා සිදු කෙරෙන චාරිත්‍ර විධි විෂයයෙහි බෞද්ධාභාසය ලැබී ඇති අයුරු පරීක්ෂා කරන්න. (ලකුණු 10යි.)

**8.** (i) ශ්‍රී ලාංකේය ස්තූප කලාවේ ආරම්භය හා විකාශය පිළිබඳ විචාරාත්මක විවරණයක් කරන්න. (ලකුණු 10යි.)

(ii) පහත සඳහන් මාතෘකා අතුරින් **දෙකකට** ප්‍රමාණවත් විස්තර සපයන්න.

(1) ශුද්‍ර වර්ණය
(2) සතර අගති
(3) අභයගිරිය
(4) සඳකඩපහණ

(ලකුණු 05 × 2 =10 යි.)




* * *